ශ්‍රී ලංකා විභාග දෙපාර්තමේන්තුව / இலங்கைப் பரீட்சைத் திணைக்களம் / Department of Examinations, Sri Lanka

# 2562 - දහම් පාසල් අවසාන සහතික පත්‍ර විභාගය - 2018(2019) 3S

## (03) ශාසන ඉතිහාසය

පැ. තුනයි

2019.03.17 /08.30 - 11.40

අමතර කියවීම් කාලය -මිනිත්තු 10 යි.

අමතර කියවීම් කාලය ප්‍රශ්න පත්‍රය කියවා ප්‍රශ්න තෝරා ගැනීමටත් පිළිතුරු ලිවීමේ දී ප්‍රමුඛත්වය දෙන ප්‍රශ්න සංවිධානය කර ගැනීමටත් යොදාගන්න.

මෙම ප්‍රශ්න පත්‍රය කොටස් දෙකකින් සමන්විත වේ. යටත් පිරිසෙයින් එක් කොටසකින් ප්‍රශ්න දෙකක්වත් තෝරාගෙන, ප්‍රශ්න පහකට පමණක් පිළිතුරු සපයන්න.

### I කොටස

1. (i) බුද්ධ ශාසනය ආරම්භ වන සමයේ භාරතයේ පැවති සොළොස් මහා ජනපද නම් කර, ඒ අතුරින් රාජාණ්ඩු පැවති ජනපද දෙකක් හා සමූහාණ්ඩු පැවති ජනපද එකක් නම් කරන්න. (ලකුණු 06 යි)

   (ii) බුදුරදුන් ප්‍රශ්න විසඳීමට භාවිත කළ ක්‍රම හතරක් නම් කර, ඒවා කෙටියෙන් හඳුන්වන්න. (ලකුණු 06 යි)

   (iii) "බුදුහිමියන් ඉදිරිපත් කළ දර්ශනය, බුදු දහමින් සමාජ ගැටලුවලට අර්ථවත් විසඳුම් ලැබීම, සුසංවිධිත ධර්මදූත සේවාව, රාජානුග්‍රහය, ප්‍රසාදයට පත් උපාසක උපාසිකාවන්ගේ අනුග්‍රහය යන කරුණු සම්බුද්ධ ශාසන ව්‍යාප්තියට පදනම් විය."
   මෙම ප්‍රකාශය අදාළ කරුණු දක්වමින් තහවුරු කරන්න. (ලකුණු 08 යි)

2. (i) ප්‍රථමයෙන් බුද්ධ ශාසනයට පිවිසි ප්‍රව්‍රජිත ශ්‍රාවක පිරිස නම් කර, එම පිරිස අර්හත්වයට පත්වූයේ කවර සූත්‍ර ධර්මයක් ශ්‍රවණය කිරීමෙන් දැයි දක්වන්න. (ලකුණු 06 යි)

   (ii) 'ඒහි භික්ඛු මහණ උපසම්පදාව' යනු කුමක් දැයි හඳුන්වා, භික්ෂු ශාසනය තුළ සරණාගමන පැවිද්ද ඇතිවීමට හේතු දක්වන්න. (ලකුණු 06 යි)

   (iii) විනය නීති පැනවීමේ අරමුණු හා ඒවා සංඝ සමාජයේ පැවැත්මට උපකාර වූ ආකාරය පැහැදිලි කරන්න. (ලකුණු 08 යි)

3. (i) දෙවන ධර්ම සංගායනාව පැවැත්වීමට මුල් වූ හේතු කවරේ දැයි පෙන්වා දෙන්න. (ලකුණු 06 යි)

   (ii) දෙවන ධර්ම සංගායනාවෙහි ප්‍රතිඵල සාකච්ඡා කරන්න. (ලකුණු 06 යි)

   (iii) "ප්‍රථම ධර්ම සංගායනාවේ අරමුණ වූයේ විසිරී පැවති ධර්ම විනය ඒකරාශි කොට වෙනස්කම්වලට භාජනය වීමට ඉඩ නො දී සුරැකි ව තැබීම යි."
   මෙම ප්‍රකාශය තහවුරු කරන්න. (ලකුණු 08 යි)

4. (i) සැදැහැවත් කුල පුත්‍රයන් විසින් වැඳ පුදා සංවේග උපදවා ගත යුතු යැයි බුදුරදුන් විසින් අනුදැන වදාරණ ලද ස්ථාන හතර නම් කර, එම ස්ථාන අශෝක රජතුමන් විසින් වැඳ පුදා ගන්නා ලද බවට දැක්වෙන සාධක ගෙනහැර දක්වන්න. (ලකුණු 06 යි)

   (ii) අශෝක රජතුමා සිය රාජ්‍යය තුළ බුදුසසුන දියුණු කිරීමට කළ කටයුතු හයක් නම් කරන්න. (ලකුණු 06 යි)

   (iii) බෞද්ධ ධර්මය පදනම් කරගත් පාලන ව්‍යුහයක් තුළින් ශිෂ්ටාචාරයක් ගොඩනැගීමට ධර්මාශෝක රජතුමා ක්‍රියා කළ ආකාරය පෙන්වා දෙන්න. (ලකුණු 08 යි)

[ දෙවන පිටුව බලන්න.

## II කොටස

5. (i) බුදුරදුන් ලක්දිවට වැඩම කළ අවස්ථා නම් කරන්න. (ලකුණු 06 යි)
   (ii) එම අවස්ථාවල සිදු වූ ශාසනික සිදුවීම් විස්තර කරන්න. (ලකුණු 06 යි)
   (iii) ලක්දිව පැවති ඇදහිලි හා විශ්වාස මහින්දාගමනයෙන් පසු නව මගකට යොමු වූ අයුරු පහදා දෙන්න. (ලකුණු 08 යි)

6. (i) සංඝමිත්තා තෙරණිය වෙතින් පැවිදි හා උපසම්පදාව ලත් භික්ෂුණීන් වහන්සේලා හය දෙනෙකු නම් කරන්න. (ලකුණු 06 යි)
   (ii) ලක්දිව භික්ෂුණී ශාසනය පිරිහීමට හේතු වූ කරුණු දක්වන්න. (ලකුණු 06 යි)
   (iii) පරාධීන තත්ත්වයක පසු වූ කාන්තාව බුදුසමයෙන් ඉමහත් සහනයක් ලැබූ අයුරු විස්තර කරන්න. (ලකුණු 08 යි)

7. (i) ධර්මාශෝක රජතුමා විසින් බෝධීන් වහන්සේ සමග එවන ලද පිරිස අතර සිටි අය අයත් වූ විවිධ කුල අතුරින් හයක් නම් කරන්න. (ලකුණු 06 යි)
   (ii) ලක්දිව රජවරුන් විසින් බෝධීන් වහන්සේ උදෙසා පවත්වන ලද උත්සව තුනක් සහ එම රජවරුන්ගේ නම් ද දක්වන්න. (ලකුණු 06 යි)
   (iii) මහා බෝධිය වටා ගෙතුණු 'බෝධි සාහිත්‍යය' පිළිබඳ ප්‍රමාණවත් විස්තරයක් ඉදිරිපත් කරන්න. (ලකුණු 08 යි)

8. පහත සඳහන් මාතෘකා අතුරින් හතරක් තෝරා ගෙන, කෙටි සටහන් ලියන්න.
   (i) මගධ ජනපදය
   (ii) අනේපිඬු සිටුතුමා
   (iii) වළගම්බා රජතුමා
   (iv) සිරි දන්ත ධාතූන් වහන්සේ
   (v) ථූපාරාම දාගැබ
   (vi) අශෝක සෙල්ලිපි
   (vii) සිවුවැනි ධර්ම සංගායනාව
   (viii) චූල්ලහත්ථිපදෝපම සූත්‍රය

(ලකුණු 05 × 4 = 20 යි)

❋ ❋ ❋